ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2559 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2015(2016)** **S1**

**(01) බුද්ධ චරිතය**

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් තුනකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් එක් ප්‍රශ්නයක්වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) බ්‍රාහ්මණ ඉගැන්වීමට අනුව මහාබ්‍රහ්ම සතු ශක්තිය ප්‍රකාශ කෙරෙන යෙදුම් (පර්යාය වචන) හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*
   (ii) වෛශ්‍ය වර්ණයට හිමි ස්වධර්ම නම් කරන්න. *(ලකුණු 04 යි)*
   (iii) බ්‍රාහ්මණ ධර්මයට අනුව පුද්ගලයකුගේ ජීවිතය චතුර් ආශ්‍රමධර්ම තුළ පවත්වාගත යුතු ආකාරය කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*
   (iv) බ්‍රාහ්මණ ඉගැන්වීම් බුදුරදුන්ගේ විචාරයට ලක් වූ අයුරු පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

2. (i) බුද්ධකාලීන භාරතයේ පැවති සොළොස්මහා ජනපද අතුරින් හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*
   (ii) එකල පැවති ඒ ඒ රාජවංශ විසින් පාලනය කරන ලද සමූහාණ්ඩු හතරක් ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*
   (iii) බුද්ධකාලීනව පැවති රාජාණ්ඩු අතර කෝසල රාජධානිය පිළිබඳව කෙටි විස්තරයක් සපයන්න. *(ලකුණු 06 යි)*
   (iv) රාජ්‍ය පාලනයෙහි ලා බුදුසමයේ මඟ පෙන්වීම පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

3. (i) බුද්ධකාලීන භාරතයේ පැවති දෙසැටක් දෘෂ්ටිවාද අතුරින් වාදවර්ග හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*
   (ii) චූල මාලුංක්‍යපුත්ත සූත්‍රයේ එන දස අව්‍යාකෘත ප්‍රශ්න අතුරින් හතරක් ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*
   (iii) ෂට් ශාස්තෘවරුන් අතුරින් මක්ඛලීගෝසල ශාස්තෘතුමාගේ ඉගැන්වීම් කෙටියෙන් පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*
   (iv) බුද්ධකාලීන භාරතයේ පැවති ශාස්වත හා උච්ඡේදවාද ප්‍රතික්ෂේප කරන බුදුසමය කවර ධර්මමාර්ගයක් නිර්දේශ කරන්නේ දැයි විචාරයට ලක් කරන්න. *(ලකුණු 06 යි)*

## II කොටස

4. (i) ශාක්‍ය රාජ පරපුරේ සිංහහනු රජතුමාගේ දූදරුවන් අතුරින් සිව්දෙනෙකු නම් කරන්න. *(ලකුණු 04 යි)*
   (ii) කෝලිය රාජපරපුරේ අංජන රජතුමාගේ දූදරුවන් අතුරින් සිව්දෙනෙකු ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*
   (iii) කෝලිය රාජ පරපුරේ ඓතිහාසික පසුබිම කෙටියෙන් පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*
   (iv) ශාක්‍ය හා කෝලිය රාජ පරම්පරා දෙක බෝසත් හා බුදුසිරිත සමඟ සම්බන්ධ වන අවස්ථා ප්‍රකට කරන්න. *(ලකුණු 06 යි)*

5. (i) වෙසක් මස පුර තුදුස්වක දින බෝසතාණන් වහන්සේ බුද්ධත්වයට පෙර දුටු සිහින අතුරින් හතරක් ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*
   (ii) බෝසතාණන් වහන්සේ දුටු ඒ ඒ සිහිනවලින් ප්‍රකාශිත අර්ථ පෙන්වා දෙන්න. *(ලකුණු 04 යි)*
   (iii) බෝසතාණන් වහන්සේ තුළ පැවති චතුරංග සමන්නාගත වීර්ය කවරේදැයි දක්වා එයින් ජීවිත අරමුණු ඉටුකර ගැනීමෙහි ලා අපට ගතහැකි ආදර්ශ පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*
   (iv) බෝසතාණන් වහන්සේ බුද්ධත්වය සාක්ෂාත් කළ ආකාරය දක්වා අර්හත් මාර්ගඥානය සමඟ සාක්ෂාත් වූ විශිෂ්ඨ බුද්ධඥාන කවරේදැයි පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

[ දෙවන පිටුව බලන්න.

6. (i) බුදුරදුන්ගේ කිඹුල්වත්පුර චාරිකාවේ දී දේශනා කළ ජාතක හා වෙනත් ධර්ම දේශනා හතරක් ගෙනහැර දක්වන්න. (ලකුණු 04 යි)

(ii) කිඹුල්වත්පුර භික්ෂු සංඝයා පිරිවරාගෙන පිඬුසිඟා වඩින බුදුරදුන් දුටු සුද්ධෝදන රජු විසින් කරනු ලැබූ ආයාචනය හා ඊට බුදුරදුන් ලබාදුන් පිළිතුර ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) බුදුරදුන්ගේ අටලෝදහමින් කම්පා නොවීමේ තාදීගුණය ප්‍රකට කළ අවස්ථා තුනක් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) බුදුරදුන් තුළ පැවති තාදීගුණයෙන් වර්තමාන ලෝකයාහට ගතහැකි ජීවිතාදර්ශ සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

7. (i) බුදුරදුන් තුළ පිහිටි ලොව්තුරු මහා ගුණ විශේෂ අතර ඇති චතුවෛසාරජ්ජ ඤාණ ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(ii) බුද්ධ චරිතයෙන් ප්‍රකට කළ පසළොස්චරණ ධර්මයන්ගෙන් හතරක් නම් කරන්න. (ලකුණු 04 යි)

(iii) බෝ නොවන රෝග රැසකින් පෙළෙන වර්තමාන කාමභෝගී සමාජයට නිරෝගී ජීවිත ගත කිරීම සඳහා එම චරණ ධර්මයන්ගෙන් ලැබෙන ආලෝකය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) බුදුරදුන්ගේ ශ්‍රේෂ්ඨ නායකත්වයේ යථාවාදී තථාකාරී ගුණය පෙන්වා දී එම ගුණය වර්තමාන දේශපාලන හා සමාජ නායකත්ව චරිත කෙරෙහි සපයන මගපෙන්වීම කවරේදැයි සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

## III කොටස

8. (i) ඒහි භික්ඛු මහණ උපසම්පදාව ලැබූ ප්‍රථම රහත් තෙරවරුන් සිව්දෙනෙකු නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) සැරියුත් තෙරුන් විසින් දේශනා කළ සූත්‍ර දේශනා හතරක් ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) බුදුරදුන් කිඹුල්වත්පුරට වැඩම කරන අවස්ථාව වනවිට භික්ෂු ශාසනය විසිදහසකට අධිකව සීඝ්‍රයෙන් ව්‍යාප්ත වී තිබූ අයුරු කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iv) ගැඹුරු දහම් කොටස් සරලව කියා දෙමින් ධර්ම සන්නිවේදන සේවාවක නිරත වූ සැරියුත් තෙරුන් වහන්සේ ධර්ම සන්නිවේදනයෙහි ලා වර්තමාන භික්ෂු පරපුර වෙත සපයන මගපෙන්වීම විස්තර කරන්න. (ලකුණු 06 යි)

9. (i) අග්‍ර උපස්ථායක ආනන්ද තෙරුන්වහන්සේ බුදුරදුන්ගෙන් කළ ප්‍රතික්ෂේප හතර නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) බුදුරදුන්ගේ අග්‍රශ්‍රාවිකාවන් දෙදෙනා හා උන්වහන්සේලා ලැබූ අග්‍රස්ථාන පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)

(iii) ආනන්ද තෙරුන් වහන්සේ අග්‍ර උපස්ථායක තනතුර දරමින් බුදුරදුන්ට උවටැන් කළ ආකාරය කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iv) වර්තමාන සමාජයේ දෙමාපිය, වැඩිහිටි හා රෝගීන් උදෙසා උපස්ථායක සේවාවන්හි යෙදෙන අයට ආනන්ද තෙරුන්ගෙන් ලබාගත හැකි ආදර්ශ ගෙනහැර දක්වන්න. (ලකුණු 06 යි)

10. (i) බුදුසසුනේ අග්‍රදායක උපාසක හා අග්‍රදායිකා උපාසිකාව නම්කොට ඔවුන් විසින් කරවා පූජා කරනු ලැබූ ආරාම දෙක පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)

(ii) මගධාධිපති බිම්බිසාර රජතුමා තම ජීවිතයේ තබාගත් ප්‍රාර්ථනා අතුරින් හතරක් ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) පතිකුලයට යන වර්තමාන තරුණ දියණිවරුන්ට විශාඛා සිටු දේවියගේ චරිතයෙන් ගතහැකි උපදෙස් ඉදිරිපත් කරන්න. (ලකුණු 06 යි)

(iv) බුද්ධශාසනයේ චිර පැවැත්මට නූතනයේ එල්ල වී ඇති අභියෝග හමුවේ දායක දායිකාවන් සතු කාර්ය භාරය විචාරයට ලක් කරන්න. (ලකුණු 06 යි)

***